# හිවල් කපටිකම්

**රුසියන් ජනකතා ඇසුරෙන්**

අයි. සොකොලොව්-මිකිතෝව් විසිනි

චිත්‍රඃ යූරි වස්නෙට්සෝව්



සී/ස, ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්) සමාගම



# අහස කඩා වැටීම

එකෝමත් එක ගෙයක් ළඟ දර ගොඩක් තිබුණා. කිකිළියක් ඔය දර ගොඩේ හැප්පුණා. දර කෑලි හැමතැන ම විසිරුණු හන්දා මහ ශබ්දයක් ඇති වුණා.

කිකිළිය බය වෙලා ගෙවත්ත පුරා දුවමින් කෙකර ගාන්නට පටන් ගත්තා.

"අහස කඩා වැටුණා! අහස කඩා වැටුණා! අහස කඩා වැටුණා!" කියල කිකිළිය කෑ ගැහුවා.

"නුඹට කවුද කිව්වේ?" කියල කුකුළා ඇහුවා.

"මම දැක්කා, මට ඇහුණා!" කියල කිකිළිය කිව්වා.

කුකුළා කිකිළියගේ කතාව විශ්වාස කළා. දෙදෙනාම බයවෙලා කැලයට දිව්වා.





මේගොල්ලන්ට හාවකු මුණගැසුණා.
"අහස කඩා වැටුණා! අහස කඩා වැටුණා!" කියල කිකිළිය කිව්වා.
"නුඹට කිව්වෙ කවුද?" කියල හාවා ඇසුවා.
"මම දැක්කා මට ඇහුණා!" කියල කිකිළිය කිව්වා.
මේ දෙදෙනාට හාවත් එකතු වුණා. තුන් දෙනා ම දුවන්න පටන් ගත්තා.
මේ ගොල්ලන්ට අතරමග දී වෘකයකු මුණ ගැසුණා.
"අහස කඩා වැටුණා! අහස කඩා වැටුණා!" කියල කිකිළිය කිව්වා.
"නුඹට කිව්වෙ කවුද?" කියල වෘකයා ඇහුවා.
"මම දැක්කා මට ඇහුණා!" කියල කිකිළිය කිව්වා.





වෘකයත් මේ තුන්දෙනා සමග එකතු වෙලා දුවන්න පටන් ගත්තා. හතර දෙනාම දුවල දුවල ගිහින් තණ පිටියකට ආවා. එතැනදී මේ ගොල්ලන්ට හිවලකු මුණ ගැසුණා.

"හිවල් හාමි! හිවල් හාමි, අහස කඩා වැටුණා!" කියල කිකිළිය කිව්වා.

"නුඹට කිව්වෙ කවුද?" හිවලා ඇහුවා.

"මම දැක්කා මට ඇහුණා!"

දුවන්නන් පස්සෙ හිවලත් දුවන්න පටන් ගත්තා.

පස්දෙනා ම ඔහොම දුවලා දුවලා ගිහින් ගැඹුරු වළකට වැටුණා. ඔය වළ ඇතුළේ දවසක් හිටියා, දෙකක් හිටියා, දවස් තුනක් ම හිටියා. ඉස්සෙල්ලා ම වෘකයාට තද බඩගින්නක් දැනුණා.





“හිවල් හාමි, අපේ නම් හඬ නගා කියපන්. අහන්න අප්‍රිය නම ඇති එක්කෙනාව කා දමමු” කියල වෘකයා යෝජනා කළා.

“හිවලා හරි හොඳ නම” කියලා හිවලා කිව්වා. “වෘක හාමිගෙ නම හොඳයි. හාවාගෙ නමත් හොඳයි. කුකුළගෙ නමත් හොඳයි. කිකිළිගෙ නම හොඳ නැහැ. අහන්න අප්‍රියයි!”

වෘකයයි, හිවලයි එකතු වෙලා කිකිළිව මරා උගේ මස් කෑවා.

හිවලා වැඩිය කෑවෙ නැහැ. බොකු බඩවැල් ඇටකටු ආදිය හිවලා උගේ බඩ යට හංගා ගත්තා.

වෘකයාට ඉක්මනින් ම බඩගිනි දැනුණා.

“හිවල් හාමි, ආයෙමත් අපේ නම් හඬ නගා කියාපන්. අහන්ට අප්‍රිය නම ඇති සතාව මරාගෙන කමු” කියලා වෘකයා කිව්වා.

“හිවලා හරි හොඳ නම” කියලා හිවලා කිව්වා. “වෘකයාගෙ නම හොඳයි. හාවාගෙ නමත් හොඳයි. කුකුළගෙ නම හොඳ නැහැ. අහන්නත් අප්‍රියයි!”

වෘකයයි, හිවලයි එකතු වෙලා කුකුළව මරාගෙන කෑවා.

මේ වරත් හිවලා වැඩිය කුකුළු මස් කෑවේ නැහැ. හිවලා කුකුළු බොකු බඩවැල් ආදිය තමාගේ බඩ යට හංගා ගත්තා.

කෑදර වෘකයාට ආයෙමත් බඩගිනි දැනුණා.

"හිවල් හාමි, ආයෙමත් පාරක් අපේ නම් හඬ නගා කියාපන්. අහන්න අප්‍රිය නම ඇති සතාව මරාගෙන කමු"යි කියල වෘකයා කිව්වා.

"හිවලගෙ නම හොඳයි" හිවලා කිව්වා. "වෘකයගෙ නමත් හොඳයි. හාවාගෙ නම හොඳ නැහැ. අහන්න අප්‍රියයි!"

වෘකයයි, හිවලයි එකතුවෙලා හාවාව මරාගෙන කෑවා.

දැන් ඉතින් වළ ඇතුළෙ ඉතුරු වෙලා ඉන්නෙ හිවලයි, වෘකයයි විතරයි. වෘකයාට ආයෙමත් බඩගිනි දැනුණා. හිවලා තමාගෙ බඩ යට හංගා ගත්ත මස් කෑලි, කටු කෑලි ටික ටික වෘකයාට හොරෙන් හෙමින් හෙමින් හපන්න පටන් ගත්තා.

හිවලා මස් කටු හපන සද්දෙ වෘකයාට ඇහුණා.

"හිවල් හාමි නුඹ මොනවද හපන්නෙ?" කියලා වෘකයා ඇහුවා.

"මම, මගේ ම බොකු බඩවැල් හපනවා යාළුවා. වෙන මොනවා කරන්නද?" කියලා හිවලා කිව්වා.

"අන්න යස වැඩේ! හිවල් හාමි වගේ මාත් කරන්නම්" කියලා වෘකයා හිතා ගත්තා.

වෘකයා තමාගෙ බඩ හපා කෑවා. එතකොට උගේ බඩ පැලී බඩවැල් එළියට ආවා.

හිවලාටත් ඕන කරල තිබුණෙ ඔය ටික තමා. වළෙන් ගොඩ එන්න උමඟක් හාරා ගෙන හිවලා ගොඩට ආවා. තම කපටිකම් තමාගේ පැටවුන්ටත් උගන්වන්න හිවලා ඔවුන් සොයා ගියා.





# වෘකයා සහ හිවලා

එකෝමත් එක රටක වෘකයෙකුයි, හිවලෙකුයි කැලෑවක හිටියා. වෘකයාට කොළ අතුවලින් හදාගත්තු ගෙයක් තිබුණා. හිවලා වාසය කළේ හිමවලින් හදාපු ගෙයක. ඉතින් ඔහොම ඉන්නකොට වසන්ත කාලය ආවා. ඉර අව්වට හිම දියවෙන්න පටන් ගත්තා. එතකොට හිවලාගේ හිම ගෙයත් දියවෙලා ගියා. හිවලා වෘකයා ළඟට ඇවිල්ලා රෑට නවතින්න අවසර ඉල්ලුවා.

"අනේ රාලහාමි ගෙට වැදිලා උණුසුම් වෙන්න මට අවසර දෙන්න!"

"මගේ ගේ බොහොම පුංචියි මටවත් හැරෙන්න ඉඩක් නැහැ. ඉතින් නුඹට කොහොමද ඉඩ දෙන්නෙ" කියල වෘකයා ඇහුවා.

හිවලාට ගෙට ඇතුළු වෙන්න වෘකයා අවසර දුන්නේ නැහැ.

හිවලා දෙවැනි දවසෙත් ආවා. තුන්වැනි දවසෙත් ආවා. ඔහොම හැමදාම වෘකයා ළඟට ඇවිල්ලා අවසර ඉල්ලන්න පටන් ගත්තා.

"එළිපත්තට හරි ගොඩවෙන්න අවසර දෙන්න රාලහාමි!"

වෘකයාට දුක හිතිලා හිවලාට ගෙට ඇතුළුවීමට අවසර දුන්නා. පළමුවැනි දවසෙ රෑ හිවලා එළිපත්තෙ නිදා ගත්තා. දෙවැනි දවසෙදි ගේ ඇතුළටම ආ හිවලා තුන්වැනි දවසෙදි ගිනි තපින ළිපේ පඩිය උඩට වෙලා උණුහුමට නිදා ගෙන රෑට තනියම කතා කරන්නට පටන් ගත්තා.

වෘකයාට හිවලගෙ කතාව ඇහුණා.



"හිවල් හාමි නුඹ ළඟ කවුද ඉන්නේ?"

"මා ළඟ කිසිවෙක් නැහැ, රාලහාමි" කියල වෘකයාට හිවලා කිව්වා.

ආපහු දෙදෙනාම නිදාගන්න සැරසුණා. හිවලා කකුළෙන් දුම් බටයට තට්ටු කළා:

"ටුක්! ටුක්! ටුක්! ටුක්! ටුක්! ටුක්! ටුක්!"

වෘකයාට ඇහැරුණා.

"හිවල් හාමි ගිහින් අහපන් කවුද දොරට තට්ටු කරන්නෙ?" කියල වෘකයා කිව්වා.

හිවලා නැගිටලා ඉස්තෝප්පු කාමරයට ගියා. එතැනින් එහා ගබඩා කාමරයට රිංගුවා. මේ කාමරේ තමා වෘකයා කෑම බීම ගබඩා කරල තියෙන්නේ. දී කිරියි, වෙඬරුයි හොයාගෙන හිවලා තලු මර මරා කන්න පටන් ගත්තා. "වෘකයගෙ දී කිරියි, වෙඬරුයි හරිම රසයි" කිය කියා හිවලා කෑවා.

හිවලා දී කිරියි, වෙඬරුයි සේරම කාලා, භාජනත් ලෙව කෑවා. ගබඩාව හැම තැනම පිටි විසි කරලා හිවලා ලිප උඩට නැගලා තොල කට ලෙවකන්න පටන් ගත්තා.

"හිවල් හාමි නුඹ කා එක්ක ද දොර ළඟ හිටගෙන කතා කළේ?" කියල වෘකයා ඇහුවා.

"මාව අඩගහගෙන යන්න නියෝජිතයො ආවා. ලොකු මඟුල් ගෙදරක්. එහෙ බොහොම ජයට කෑම බීම ඇතුව මඟුල් කෑමක්. මට බැහැ කියල කිව්වා"

වෘකයා හිවලගෙ කතාව විශ්වාස කළා.

"මම දර කඩාගෙන එන්නම්. ලිප ගිනි මොළවන්නම්. නුඹ ගබඩා කාමරේට ගිහින් දී කිරියි, වෙඬරුයි, පාන් පිටියි හොයාගෙන වරෙන්. අපි උදේට කෑම ටිකක් හදාගනිමු" කියලා වෘකයා කිව්වා.

හිවලා ගබඩා කාමරේට ගිහින් ආපහු හැරිල ඇවිත් කියනවා:

"අනේ රාලහාමි, මම වයසට ගිහින්. ඇස් පෙනීම දුර්වලයි. කිසි දෙයක් හොයා ගන්න බැහැ. රාලහාමි ගිහින් බලන්න"

වෘකයා ගබඩා කාමරයට ගිහිල්ලා රාක්ක උඩත් බැලුවා, යටත් බැලුවා. දී කිරිත් නැහැ, වෙඬරුත් නැහැ. වෘකයා හිවලාගෙන් මෙහෙම ඇහුවා:

"මගෙ දී කිරියි, වෙඬරුයි කාල පිටි ඉහිරවල දැම්මෙ නුඹ නෙවද?"

"මගෙ ඇස් පෙනෙන්නෙ නැහැ. මම හරිම අවාසනාවන්තයෙක්. දී කිරියි වෙඬරුයි මම දැක්කෙ නැහැ. පිටි ඉහිරුවෙත් නැහැ!"

මෝඩ වෘකයා කපටි හිවලාව විශ්වාස කළා. ගෙදර නැවතීමට උගට වෘකයා ඉඩ දුන්නා.

අවුරුද්දක් ම ගෙවී ගියා. හිවලා වෘකයාගේ ගෙදර අතහැර ගියේ නැහැ.

හිවලා වෘකයාගේ ගෙදර ස්ථිර පදිංචිකාරයෙක් වුණේ ඔය විදියටයි.





# වෙදකම - හෙදකම

සීයා කෙනෙකුට අයිති ගෙවත්තක කිකිළියෙකුයි, කුකුළෙකුයි හිටියා. කිකිළිගෙ නම සුදු හාමිනේ. කුකුළගෙ නම පොර කටුවා. දවසක් දා සුදු හාමිනේ ගෙවත්ත පුරා ඇවිදිනකොට අහසෙ කළු වළාකුළු පාවෙන්න පටන් ගත්තා. ඒ එක්කම අකුණු පහරක් වැදුණා. හිම වැස්සක් වහින්න පටන් ගත්තා.

කිකිළිය හොඳටම බය වෙලා සිහි නැතුව ඇද වැටුණා.

පොරකටුවා අඬලා මෙහෙම කිව්වා.

"අනේ, අනේ, මගෙ සුදු හාමිනේට අකුණු පහරක් වැදිලා එයා මළා. දැන් ඉතින් මම තනිවුණා. මගෙ සුදු හාමිනේට වෙදකමක් කරන්න, හෙදකමක් කරන්න, ඈ වෙනුවෙන් අඬන්න, වැළපෙන්න කෙනෙක් නැහැ නොවැ"

දුක ඉවසා ගන්න බැරිව කුකුළා කැලයට වැදී අඩ අඩා ගියා. ඔහොම යනකොට, යනකොට එයාට හමුවුණා වලසෙකුව. කුහුඹි වළක් හාරමින් හිටි වලසා කුකුළා දැකලා කතා කළා.

"ආයුබෝවන් පොරකටුවා, හිම්දිරි පාන්දර යන්නෙ කොහෙද?"

"දුක ඉවසා ගන්න බැරිව යනවා. මගෙ අපූරු සුදු හාමිනේට අකුණු පහරක් වැදී එයා මළා. ඈට වෙදකමක්, හෙදකමක් කරන්න කෙනෙක් නැහැ. ඈ වෙනුවෙන් අඬන්න, වැළපෙන්න කෙනෙක් නැහැ" කියල කුකුළා කිව්වා.

"මට පුළුවනි අඬන්න" කියලා වලසා කිව්වා.

"වලස් රාලහාමි, නුඹේ කටහඬ ලස්සනද?" කියල කුකුළා ඇසුවා.

වලසා පස්ස ගාත් බිම ගසාගෙන නැගිට සිට, මුළු කැලයටම ඇහෙන්න මහ හඬින් කෑ ගැසුවා.

"මිම්ම්මෑ සුදු හාමිනේට අකුණු පහරක් වැදිලා එයා මළා! මිම්ම්මෑ...!"

වලසා අඬන හැටි අහගෙන හිටි කුකුළා මෙහෙම කිව්වා.

"අපොයි වලස් රාලහාමි! නුඹේ කටහඬ බොහොම ගොරෝසුයි. මගේ සුදු හාමිනේ වෙනුවෙන් අඬන්න නුඹට බැහැ"



වලසාගෙන් සමුගෙන කුකුළා යන්න පටන් ගත්තා. ඔහොම යනකොට යනකොට බැටළුවන් සොයමින් ඇවිදින කළු වෘකයකු කුකුළාට හමුවුණා.

"ආයුබෝවන් පොරකටුවා! මේ හිමිදිරි පාන්දර යන්නේ කොහෙද? මා වැනි කළු වෘකයින්ට නුඹ බය නැති ද?" කියලා වෘකයා කුකුළාගෙන් ඇහුවා.

"වෘක රාලහාමිලා දැකල බයවෙන්න හේතුවක් නැහැ නෙව. මගේ සුදු හාමිනේ එක්ක මම සැපෙන් වාසය කළා. අකුණු පහරක් වැදිලා එයා මළා. මගෙ සුදු හාමිනේට වෙදකමක්, හෙදකමක් කරන්න, එයා වෙනුවෙන් අඬන්න වැළපෙන්න කෙනෙක් නැහැ"

"මට පුළුවනි අඬන්න" කියලා වෘකයා කිව්වා.

"අපොයි රාලහාමි! නුඹේ කටහඬ හරිම භයානකයි. දිව බොහොම දිගයි. නුඹ අඬන්න දන්නෙ නැහැ!" කියල කුකුළා කිව්වා.

වෘකයා ඔළුව සොලවා උඩු තල්ල නැති තම කට ඇර හූ තැබුවා.

"හූහූහූ-හූ! සුදු හාමිනේට අකුණු පහරක් වැදිලා එයා මළා. හූහූහූ-හූ!"

වෘකයාගේ හූව අසා සිටි කුකුළා මෙහෙම කිව්වා.

"මගේ සුදු හාමිනේ වෙනුවෙන් අඬන්න වැළපෙන්න රාලහාමිගෙ කටහඬ හොඳ මදි. මම යනව!"

කුකුළා දුකින් තැවි තැවී යන්න පටන් ගත්තා. ඔහොම යනකොට යනකොට, කුකුළාට හිවලකු හමු වුණා. හිවලා කුරුලු දඩයම් සොයමින් ඇවිද්දා.

"ආයුබෝවන් පොර කටුවාණෙනි! හිමිදිරි පාන්දර යන්නෙ කොහෙද? මම ඔබතුමා ගැන දැන් දවස් කීපයක් තිස්සෙම කල්පනා කරනවා. කුකුළාට වඩා ලස්සන සතෙකු අපේ කැලෑවල ඉන්නවද! මේ මුළු ලෝකෙම ඉන්නා ඉතාම හොඳ, ඉතාම ලස්සන සතා කුකුළා බව ඔබතුමා දන්නවද?..."

"මගේ සුදු හාමිනේ මළා. ඈට වෙදකමක්, හෙදකමක් කරන්න, ඈ වෙනුවෙන් අඬන්න, වැළපෙන්න කෙනෙකු සොයමින් මම ඇවිදිනවා" කියල කුකුළා කිව්වා.

"මැදෑ වුණු විපතක හැටි! මම දැනගෙන හිටියෙ නැහැ නෙව! සුදු හාමිනේට වෙදකම් කරන්න, හෙදකම් කරන්න, ඈ වෙනුවෙන් අඬන්න වැළපෙන්න මට පුළුවනි. මේ කැලෑවෙ අහිංසක සතුන්ට, කුරුල්ලන්ට වෙදකම් කරන්නේ මමයි. උන් මට කියන්නෙ වෙද රාලහාමි කියල"

"වෙද රාලහාමිගෙ කටහඬ ලස්සන ද?" කියලා කුකුළා හිවලාගෙන් ඇසුවා.

හිවලා වලිගය ගසලා හොම්බ උල්කරගෙන දුක්බර තාලෙකට ගීයක් ගායනා කළා.

"කුකුළගෙ පෙම්බර සුදුහාමි,
උදෙන් නැගිටලා, කැඳබත් උයලා
කුකුළට කවලා, ගෙදර වැඩ කළා.
සුදු හාමිනේට වෙච්ච දේට - අනේ අනේ මට හරිම දුකයි!"

කපටි හිවලගෙ කටහඬ කුකුළගෙ සිත ගත්තා. හිවලාට ගෙදර එන ලෙස කුකුළා කිව්වා.

"අනේ වෙද රාලහාමි, ඔහෙගෙ කටහඬ හරි ලස්සනයි. අහගෙන ඉන්නත් ආසයි!" කියල කුකුළා කිව්වා.

කුකුළා හිවලා කැටුව ගෙදර ගියා. හිවල් වෙදරාලට සුදු හාමිනේ බාර දීලා, තැගි බෝග සොයන්න කුකුළා පිටත් වුණා.

කිකිළිය කා දමා, ඇගේ පිහාටු වීසි කොට, දොර ළඟ වාඩි වුණු හිවලා ගීයක් ගයන්න පටන් ගත්තා.

"කුකුළගෙ පෙම්බර සුදු හාමි,
උදෙන් නැගිටලා, කැඳබත් උයලා
කුකුළට කවලා, ගෙදර වැඩ කළා
සුදු හාමිනේට - වෙච්ච දේට
අනේ, අනේ මට - හරිම දුකයි"

තැගි බෝග හොයාගෙන කුකුළා ගෙදර ආ විගස හිවලා උගේ ඇඟට පැන්නා, තැගි බෝග ටික උදුරා ගත්තා, ඌ මරාගෙන කෑවා. හිවලා කුකුළු පිහාටු වීසි කරලා කැලයට ගියා.





# දිවුරුම

දේවදාර ගස්වලින් පිරුණු කැලෑවක් ළඟින් ගඟක් ගලා බසිනවා. මේ ගඟට එහා ගෙදරක එක දඩයම් කාරයෙක් වාසය කරනවා. එයා තමා ඉවාන් මිකිතෝවිච්. සීත කාලෙ උෂ්ණ කාලෙ කියල බලන්නෙ නැතුව මිකිතෝවිච් හැමදාම කැලෑවට යනවා. නත්තල් ගස් යට නිදා ගන්නවා. පුංචි දූපත්වල රැය ගත කරනවා. සතුන් වගේ කෑ ගහන්න මිකිතෝවිච් බොහොම දක්ෂයි. සතුන් ඉන්නා තැන් හොයාගෙන ගිහිල්ලා උන්ව අල්ලාගන්න මිකිතෝවිච් හරිම දක්ෂයා. ඒ වුණාට කපටි හිවල් හාමිව අල්ලාගන්න මිකිතෝවිච්ට බැරි වුණා.

දවසක් දා මිකිතෝවිච් හිවල් ගුහාව ළඟට ගිහිල්ලා එතැන සතුන් අල්ලන උගුලක් ඇටෙව්වා.

"මේ පාර නම් හිවලට බේරෙන්න බැහැ!" කියල මිකිතෝවිච් හිතුවා.

හිවලා ගුහාව ඇතුළෙ ඉඳගෙන ඔළුව එළියට දාලා වටපිට බැලුවා. උගුලක් අටවා තියෙන හැටි උගට පෙනුණා. උගුලට අසු නොවී උෟ ප්‍රවේසමෙන් එළියට ආවා. කිසිම අමුත්තක් නොවුණු විදියට හිවලා කැලයට වැදී යන්න පටන් ගත්තා. ඔහොම යනකොට, යනකොට උගට හමුවුණා බිම බලාගෙන යන වෘකයකුව.

"ආයුබෝවන් රාලහාමි!"

"ආයුබෝවන් හිවල් හාමි! මේ හිමිදිරි පාන්දර ඉර පායන්නත් ඉස්සෙල්ලා කොහෙද යන්නේ?"

"අනේ රාලහාමි, මම මේ කැලෑවෙ බොහොම සාමදානෙන් සතුන්ගෙ පැටවුන්ට සාත්තු සප්පායම් කරමින්, කුරුලු පැටවුන්ට කෑම සොයා දෙමින් ජීවත් වුණා. හතුරු ආන්තරාවක් වන ඕනෑ තැනක මම ඉන්නවා.

වෙදකම් කරන්නෙත්, හෙදකම් කරන්නෙත් මමයි. ඉඳුම් හිටුම් නැති වන තැනට දැන් මම වැටිල ඉන්නව. කොහේ හරි කුකුළෙක් නැති වුණාම වැරදි කාරයා හිවලා. මාව විනාශ කරන්න මිනිස්සු ලෑස්ති වෙනවා. ඒ හන්දා මම ඉබාගාතේ යනවා," කියලා හිවලා කිව්වා.

"අනේ හිවල් හාමි! මගේ කලදසාවත් හොඳ නැහැ. කාටවත් වැරදි නොකර මාත් කැලෑවෙ ජීවත් වුණා. වලස් රාල මේ ළඟක දී වස්සෙකුව මරා දැම්මා. ඒ වුණාට වැරදිකාරයා වුණේ මායි. මිකිතෝව් කියන දඩයම්කාරයා මාව අල්ලා ගන්න මා පස්සෙ එනවා" කියලා වෘකයා හිවලාට කිව්වා.

හිවලා ඇඬුවා, වැළපුණා.

"අනේ, අනේ, රාලහාමි නුඹ කරුණාවන්ත සතකු බව මම දන්නවා. අපේ කල දසාව හොඳ නැහැ. දෙන්නම කැලෑවට වැදිල ඉබාගාතෙ යමු" කියලා හිවලා කිව්වා.

හිවලයි, වෘකයයි මූකලන් කැලෑවට ගියා. වෘකයාට දුර යන්න ඉඩ දෙන්නේ නැතිව හිවලා ඌ අල්ලා ගෙන වටේට යන්න පටන් ගත්තා. රෑ වන තුරු ඔහොම ඇවිදලා නත්තල් ගහක් යට වාඩි වෙලා ගිනි මැලයක් පත්තු කරගෙන විවේක ගත්තා.

වෘකයා නිදා වැටෙන්න පටන් ගත්තා. හිවලා නිදා ගත්තේ නැහැ. ගිනි මැලයට දර කෝටු දම දමා කල්පනා කරන්න පටන් ගත්තා.





උදේ පාන්දරම වෘකයාට ඇහැරුණා.

"හිවල් හාමි! මදෑ මම නිදාගත්තා. හොඳටම එළිවෙලා නෙවද?" කියල වෘකයා ඇහුවා.

ගිනි මැලය ළඟ ගිනි තපිමින් සිටි හිවලා එක ඇහැක් අඩවන් කරගෙන මෙහෙම කිව්වා.

"රාලහාමි මම බොහොම සතුටුයි, නිදාගන්න. නින්දක් නැහැ නෙව. ඊයේ රෑ මම නපුරු හීනයක් දැක්කා. ඒ වෙලාවෙ ඉඳල ඔය හීනෙ ගැන කල්පනා කරනව"

"හිවල් හාමි නුඹ දුටු හීනෙ මොකක් ද?"

"මා දුටු හීනෙ මෙන්න මේකයි: වස්සාව මැරුවෙ වලසා නොවෙයි, නුඹයි රාලහාමි. වස්සා මරාගෙන කෑවෙ නුඹ තමා. ඔය හීනෙ දැකපු වෙලාවෙ ඉඳල මම කල්පනා කරනව, රාලහාමි මට කිව්වෙ ඇත්ත ද කියල"

"නුඹ මොනව කියනවද හිවල් හාමි! නුඹ දුටු හීනෙ ඇත්තක් නොවේ. බොරුවක්. මම වස්සාව මැරුවෙ නැහැ. කෑවෙත් නැහැ!" කියල වෘකයා කිව්වා.

"මම සතුටුයි රාලහාමිව විශ්වාස කරන්න. ඒ වුණාට හීනෙ දැකපු වෙලාවෙ ඉඳල ඔහෙගෙ කතාව විශ්වාස කරන්න බැහැ. වස්සාව මැරුවෙ නැහැ කියල දිවුරන්න රාලහාමි ලෑස්ති ද?" කියල හිවලා ඇසුවා.

"ඔව්. මම ලෑස්තියි" කියල වෘකයා කිව්වා.

හිවල් ගුහාව ළඟ තියෙන උගුල ළඟට හිවලා වෘකයාව අඬගහගෙන ගියා. මිකිතෝව් අටවපු උගුල වෘකයට පෙන්නල හිවලා මෙහෙම කිව්වා.

"රාලහාමි! මෙන්න මේ දිවුරුම් ගල ඉඹල දිවුරපන්!"

වෘකයා උගුලට ළං වෙලා ඔළුව පාත් කළ හැටියෙ ම උගෙ හොම්බ උගුලට අහුවුණා. වෘකයා පණ බයේ මරහඬ දුන්නා.

එතකොට හිවලා වෘකයාට කතා කරලා මෙහෙම කිව්වා.

"රාලහාමි ඇත්ත නොකී බව දැන් ඔප්පු වුණා. ඔය දිවුරුම් ගල එසේ මෙසේ එකක් නොවෙයි. බොරු කියන උදවියට එයින් ගැල වී යන්න ඉඩ ලැබෙන්නේ  නැහැ. ආයුබෝවන් රාලහාමි!"

හිවලා කැලෑවට දිව්වා.

දඩයම්කාර මිකිතෝව් උදෙන් ම ඇවිත් වෘකයාට වෙඩි තියලා, ඌව මරා උගේ හම ගලවාගෙන ගෙදර ගියා.

මිකිතෝව්ලගේ ගෙදර බිත්තියේ අළුපාට වෘක හමක් එල්ලා තිබෙනවා.



